27840

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2016 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2016 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2016

සන්නිවේදනය හා මාධ්‍ය අධ්‍යයනය I
தொடர்பாடலும் ஊடகக் கற்கையும் I
Communication and Media Studies I

29 S I

පැය දෙකයි
இரண்டு மணித்தியாலம்
Two hours

**උපදෙස්:**

- **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
- උත්තර පත්‍රයේ නියමිත ස්ථානයේ ඔබේ **විභාග අංකය** ලියන්න.
- උත්තර පත්‍රයේ දී ඇති උපදෙස් ද සැලකිල්ලෙන් කියවා පිළිපදින්න.
- 1 සිට 50 තෙක් එක් එක් ප්‍රශ්නයට (1), (2), (3), (4), (5) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ ඉතාමත් ගැළපෙන හෝ** පිළිතුර තෝරාගෙන, එය **උත්තර පත්‍රයේ පසුපස දැක්වෙන උපදෙස් පරිදි කතිරයක් (X) යොදා දක්වන්න.**

---

1. "සමාජය යනු සන්නිවේදනය මගින් පවත්වාගෙන යන සබඳතා ජාලයකි." මෙම අදහස ඉදිරිපත් කළේ,
   (1) විල්බර් ශ්‍රාම් ය.
   (2) එඩ්වඩ් සැපීර් ය.
   (3) හැරල්ඩ් ඩී. ලැස්වෙල් ය.
   (4) චාල්ස් ඔස්ගුඩ් ය.
   (5) චාල්ස් කූලි ය.

2. සන්නිවේදන ක්‍රියාවලිය පවත්වාගෙන යාම සඳහා ප්‍රධාන වශයෙන් අවශ්‍ය වන්නේ,
   (1) සන්නිවේදකයා ය. (2) ග්‍රාහකයා ය. (3) බලපෑම ය. (4) පණිවිඩය ය. (5) නාලිකාව ය.

3. ගුවන් විදුලි ප්‍රවෘත්ති ප්‍රකාශයේ දී යොදන භාෂාවේ දුබලතාවක් ලෙස සැලකිය හැක්කේ,
   (1) ව්‍යංග්‍යාර්ථ බවයි.
   (2) පැහැදිලි බවයි.
   (3) සංක්ෂිප්ත බවයි.
   (4) සරල බවයි.
   (5) නිර්මාණාත්මක බවයි.

4. පහත සඳහන් මාධ්‍ය මෙවලම් අතුරෙන් පුරවැසි මාධ්‍ය භාවිතයෙහි අඩුම අවකාශය ඇති මාධ්‍ය මෙවලම කුමක් ද?
   (1) ජංගම දුරකථන
   (2) විද්‍යුත් තැපෑල
   (3) බ්ලොග් අඩවි
   (4) ස්කයිප්
   (5) වෙබ් අඩවි

5. පහත සඳහන් ඒවා අතුරෙන් යම් උපදේශයක්, මතයක් හෝ අදහසක් ඉතා සංක්ෂිප්ත හා ප්‍රබල ලෙස ප්‍රකාශ කිරීමේ හැකියාවක් ඇත්තේ කුමකට ද?
   (1) ජාතක කථා
   (2) ජන ගී
   (3) ප්‍රස්තාව පිරුළු
   (4) තේරවිලි
   (5) ජන කවි

6. පැරණි මුද්‍රණ ශිල්පයේ සහ නූතන මුද්‍රණ ශිල්පයේ ආරම්භක රටවල් ලෙස සැලකෙන්නේ පිළිවෙළින්,
   (1) එංගලන්තය සහ ජර්මනියයි.
   (2) ග්‍රීසිය සහ රෝමයයි.
   (3) ඉන්දියාව සහ ඇමෙරිකාවයි.
   (4) චීනය සහ ජර්මනියයි.
   (5) මිසරය සහ ජර්මනියයි.

7. සන්නිවේදන වර්ගීකරණය සඳහා මූලික ව යොදා ගන්නා සාධකයක් වන්නේ,
   (1) අවස්ථාවයි.
   (2) පුද්ගල චර්යාවයි.
   (3) සහභාගී වන සංඛ්‍යාවයි.
   (4) නාලිකාවයි.
   (5) සන්නිවේදන කුසලතාවයි.

8. සංවර්ධන සන්දේශයක ලක්ෂණයක් **නො වන්නේ,**
   (1) නිශ්චිත සංවර්ධන පණිවුඩයක් අන්තර්ගත වීම ය.
   (2) සමාජ අලෙවිකරණ සන්දේශ ස්වභාවයක් පැවතීම ය.
   (3) ව්‍යාපාරික අරමුණකින් යුක්ත වීම ය.
   (4) තෝරාගත් අපේක්ෂිත ඉලක්කයක් පැවතීම ය.
   (5) නිශ්චිත ඉලක්ක ග්‍රාහක කණ්ඩායමක් සිටීම ය.

[ දෙවැනි පිටුව බලන්න.

9. ජනමාධ්‍ය ක්‍රියාවලිය තුළ බොහෝ දොරටුපාලකයෝ සිටිති. ඔවුන් විසින් මූලික ව සිදු කරනු ලබන්නේ,
(1) පණිවිඩ ගලායාම පාලනය කිරීම ය.
(2) අහිතකර බලපෑමක් සිදු කිරීම ය.
(3) තොරතුරු සත්‍ය ලෙස ඉදිරිපත් කිරීම ය.
(4) පාලකයන්ට අභිමත ලෙස කටයුතු කිරීම ය.
(5) මූල්‍යමය ප්‍රතිලාභ ලබා ගැනීම ය.

10. ශ්‍රී ලාංකේය සමාජය තුළ ජනප්‍රිය සංස්කෘතිය, සමාජ ප්‍රපංචයක් ලෙස ව්‍යාප්ත කිරීමෙහි ලා පුළුල් දායකත්වයක් සැපයූ මාධ්‍ය වන්නේ,
(1) සිනමාවයි. (2) ගුවන්විදුලියයි. (3) රූපවාහිනියයි. (4) පුවත්පතයි. (5) වේදිකාවයි.

11. සංවර්ධන ක්‍රියාවලියේ දී, රටක ජනමාධ්‍ය ජාතික න්‍යාය පත්‍රය (National Agenda) සැකසීමට දායක වේ. මින් අදහස් වන්නේ,
(1) ප්‍රමුඛතා අනුව ව්‍යාපෘති පෙළගැස්වීම ය.
(2) සංවර්ධන ක්‍රියාවලිය තුළ පවත්නා දුර්වලතා හඳුනා ගැනීම ය.
(3) ජනතාව තුළ ආකල්පමය වෙනසක් ඇති කිරීම ය.
(4) සංවර්ධන ක්‍රියාවලිය විවේචනය කිරීම ය.
(5) සංවර්ධනය සඳහා පොදු ජනතාව සූදානම් කිරීම ය.

12. මහවැලි ව්‍යාපාරය යටතේ මෙරට ක්‍රියාත්මක වූ ප්‍රජා ගුවන්විදුලි සේවා පමණක් අඩංගු කාණ්ඩය කුමක් ද?
(1) ගිරාඳුරුකෝට්ටේ, මහඉලුප්පල්ලම සහ කොත්මලේ
(2) මහවැලි, ඌව සහ රුහුණු
(3) ගිරාඳුරුකෝට්ටේ, රජරට සහ කොත්මලේ
(4) මහවැලි, පුලතිසිරාවය සහ රජරට
(5) මහඉලුප්පල්ලම, ඌව සහ රජරට

13. ජනමාධ්‍ය සංකල්ප පිළිබඳ ව අවධානය යොමු කිරීමේ දී බුද්ධිමය දේපළ පනත සහ ශ්‍රී ලංකා පුවත්පත් මණ්ඩල පනත අදාළ වන්නේ,
(1) අධිපතිවාදී සංකල්පයේ දී ය.
(2) නිදහස් මතවාදී සංකල්පයේ දී ය.
(3) ප්‍රජාතන්ත්‍රීකරණ සංකල්පයේ දී ය.
(4) සංවර්ධන සංකල්පයේ දී ය.
(5) සමාජ වගකීම් සංකල්පයේ දී ය.

14. සම්මුඛ පරීක්ෂණයක් සඳහා උදෑසන ගෙදරින් පිටත් ව මහමඟට බසින විජයට, වැරහැලි ඇඳගත් හිඟන්නකු තමා ඉදිරියට එන බව දැකීමෙන් ගමන අසාර්ථක වන බව හැඟුණි. ඔහුට මෙබඳු සිතිවිල්ලක් ඇති වූයේ,
(1) ආගමික හැඟීම් නිසා ය.
(2) අද්භූත කථා කියවීම නිසා ය.
(3) ත්‍රාසජනක හැඟීම් නිසා ය.
(4) ජන විශ්වාස නිසා ය.
(5) ජනශ්‍රැති හැදෑරීම නිසා ය.

15. ජනමාධ්‍ය පිළිබඳ ව **සාවද්‍ය** ප්‍රකාශය තෝරන්න.
(1) මාධ්‍යවල තනි හිමිකාරිත්වය මාධ්‍ය ඒකාධිකාරිත්වයක් නිර්මාණය කරයි.
(2) සන්දේශ සැම විට ම ඉහළ සිට පහළට විසුරුවා හැරේ.
(3) මැතිවරණ දේශපාලනය තවමත් ප්‍රවෘත්ති අතර ප්‍රධාන තැනක් ගනියි.
(4) ගෝලීය තොරතුරු ගම්මානය ජනමාධ්‍යයේ අතුරු ඵලයකි.
(5) ග්‍රාහකයින්ගේ සක්‍රිය සහභාගිත්වයක් දක්නට ලැබේ.

16. අර්බුදකාරී අවස්ථාවක මාධ්‍ය සාකච්ඡාවක් පවත්වා තොරතුරු හෙළිකිරීම මහජන සම්බන්ධතා ක්‍රමෝපායකි. මෙය ජනමාධ්‍යකරුවාගේ දෘෂ්ටිකෝණයෙන් වඩාත් වැදගත් වන්නේ,
(1) තොරතුරු විශාල ප්‍රමාණයක් ලැබෙන බැවිනි.
(2) ලබා දෙන තොරතුරු පිළිබඳ ප්‍රශ්න කළ හැකි බැවිනි.
(3) බලධාරීන් මුහුණට මුහුණ හමු වන බැවිනි.
(4) කෙටි කාලසීමාවක් තුළ අවසන් කෙරෙන බැවිනි.
(5) සියලු මාධ්‍යවලට ගැළපෙන පරිදි තොරතුරු නිකුත් කරන බැවිනි.

17. ජනමාධ්‍ය තුළ සංවර්ධන සන්දේශ සඳහා ඉඩකඩ ලැබෙන්නේ,
(1) ජනමාධ්‍ය දේශපාලනීකරණය වීමෙනි.
(2) මහජන සේවා සංකල්පය පිළිගැනීමෙනි.
(3) නව තාක්ෂණය ජනමාධ්‍ය සහ සම්බන්ධ වීමෙනි.
(4) ජනමාධ්‍ය වාණිජකරණය වීමෙනි.
(5) තොරතුරු බෙදාහැරීම බටහිරකරණය වීමෙනි.

**18.** මාධ්‍ය සංස්කෘතිය පිළිබඳ ව ගුවන්විදුලි සාකච්ඡාවක් තුළ දී ඉදිරිපත් වූ මතවාද කිහිපයක් පහත දැක්වේ.
A - බටහිර සංස්කෘතිය මූලාශ්‍රය කරගත් බව
B - මාධ්‍ය තාක්ෂණය සමඟ ප්‍රතිබද්ධ වී ඇති බව
C - සමාජ ගතිකවලට අනුව හැඩගැසීම
D - ස්වාභාවික ක්‍රියාවලියට වඩා සැලසුම් කරන ලද ක්‍රියාවලියක් වීම
ඉහත අදහස්වලින් සත්‍ය වන්නේ,
(1) A හා B පමණි. (2) A හා C පමණි. (3) A, B හා C පමණි.
(4) B, C හා D පමණි. (5) A, B, C හා D යන සියල්ල ම ය.

**19.** සමාජයක පවතින ව්‍යවසායමූල සංවිධානයක් ලෙස සැලකිය හැක්කේ,
(1) වෘත්තීය සමිති ය. (2) මරණාධාර සමිති ය.
(3) ප්‍රාදේශීය සභාව ය. (4) ග්‍රාමීය ණය දෙන සමිති ය.
(5) කාන්තා සුභසාධන සමිති ය.

**20.** කණ්ඩායමක් තුළ විසම්මුතියට ඉඩ **නො ලැබෙන්නේ**,
(1) නිදහස් මතධාරී පුද්ගලයන් සිටීමෙනි.
(2) පාලනය කරන ලද පුද්ගලයන් සිටීමෙනි.
(3) විවිධ මත දරන පුද්ගලයන් සිටීමෙනි.
(4) ප්‍රජාතන්ත්‍රවාදී මත දැරීමෙනි.
(5) සාධනීය ලෙස අදහස් සාකච්ඡා කිරීමෙනි.

**21.** මිනිසුන් අතර අදහස් සහ හැඟීම් සන්නිවේදනය කළ හැක්කේ, ඒවා
(1) සංස්කෘතික ලක්ෂණ මගින් නියෝජනය වන්නේ නම් පමණි.
(2) සංකේත මගින් නියෝජනය වන්නේ නම් පමණි.
(3) ආචාර විද්‍යාත්මක ලක්ෂණ මගින් නියෝජනය වන්නේ නම් පමණි.
(4) සහවේදනය මගින් නියෝජනය වන්නේ නම් පමණි.
(5) නිරන්තරව භාවිත කරන්නේ නම් පමණි.

**22.** විදුලිය බිඳවැටීම පිළිබඳ මහජන පැමිණිලි ලබා ගැනීමට විවිධ ක්‍රමවේද සකස් කර තිබුණි. ඒවා අතුරෙන් අවම වැදගත්කමක් දරනු ලබන්නේ,
(1) තැපැල් මගින් ගෙන්වා ගැනීම ය.
(2) විද්‍යුත් තැපැල මගින් ගෙන්වා ගැනීම ය.
(3) හදිසි දුරකථන අංකයකට ඇමතුම් ලබා දීම ය.
(4) ගාස්තු රහිත හදිසි දුරකථන අංකයකට දැන්වීම ය.
(5) කෙටි පණිවිඩයක් (SMS) ලබා ගැනීම ය.

**23.** පහත සඳහන් ප්‍රකාශ සැලකිල්ලට ගන්න.
A - සන්දේශයක මතුපිට අර්ථයට වඩා වැඩි දෙයක් අවබෝධ කර ගැනීම
B - පුද්ගල අනුභූතීන් සමඟ සම්බන්ධ වීම
C - මාධ්‍ය සාක්ෂරතාව වර්ධනය කර ගැනීම
D - විනෝදාස්වාදය මතුකර ගැනීම
ඉහත ප්‍රකාශ අතුරෙන් ජනමාධ්‍යවල නිර්මාණශීලී කියවීම යන්නට අදාළ ව වඩාත් ගැළපෙන්නේ,
(1) A හා B පමණි. (2) B හා C පමණි. (3) A, B හා C පමණි.
(4) A, C හා D පමණි. (5) B, C හා D පමණි.

**24.** **සාවද්‍ය** ප්‍රකාශය තෝරන්න.
(1) දෙපියවර ආකෘතියේ දී ජනමත නායකයන් සහ අනුගාමිකයන් සම්බන්ධ වේ.
(2) සමූහ සන්නිවේදනය ග්‍රාහක සංඛ්‍යාව මත පමණක් ම තීරණය වේ.
(3) ප්‍රවෘත්තියක් ග්‍රාහකගත වීම දොරටුපාල කාර්යය මත රඳා පවතියි.
(4) රූපණය පුද්ගලබද්ධ සංසිද්ධියක් ලෙස දැක්විය හැකි ය.
(5) නව සමාජ අවශ්‍යතා මාධ්‍ය සංස්කෘතිය මගින් නිරූපණය කරයි.

**25.** ජනමාධ්‍ය මගින් ඉදිරිපත් කරනු ලබන සන්දේශ ජනමත ප්‍රධානීන්ගේ මැදිහත්වීමකට ලක් වන බව පැහැදිලි කරනුයේ,
(1) දොරටුපාල සංකල්පයෙනි.
(2) දෙපියවර සංකල්පයෙනි.
(3) සමාජ වගකීම් න්‍යායයෙනි.
(4) ගැල්ටුන්ගේ ගැටුම් න්‍යායයෙනි.
(5) මාස්ලෝගේ අවශ්‍යතා න්‍යායයෙනි.

**26.** එක්තරා පුවත්පතක සංස්කාරක ප්‍රතිපත්ති මෙසේ ලැයිස්තුගත කර තිබේ.
A - මළ සිරුරුවල ඡායාරූප පළ නොකිරීම
B - මත්පැන් දැන්වීම් ඇතුළත් නොකිරීම
C - ඇඩ්වටෝරියල් සඳහා ඉඩ ලබා නොදීම
D - සූදු පිළිබඳ ප්‍රවෘත්ති ප්‍රතික්ෂේප කිරීම
ඉහත ප්‍රතිපත්ති හැඳින්වීමට වඩාත් යෝග්‍ය යෙදුම කුමක් ද?
(1) වාරණය (2) ස්වයං-නියාමනය (3) නීතිමය බාධක
(4) පාරිභෝගික ආරක්ෂාව (5) ප්‍රකාශන නිදහස

**27.** සන්නිවේදන විධි ක්‍රමයක් ලෙස මුඛ පරම්පරාගතව එන ජන කථා වැදගත් වන්නේ ඒවා
(1) නිර්මාණාත්මක සන්නිවේදන භාවිතයක් නිසා ය.
(2) සන්නිවේදන මූලාශ්‍රයක් නිසා ය.
(3) පුද්ගලාන්තර සන්නිවේදන භාවිතයක් නිසා ය.
(4) කථන සන්නිවේදන භාවිතයක් නිසා ය.
(5) ස්වදේශිකත්ව සන්නිවේදන රටාවක් නිසා ය.

**28.** පාසලේ විෂය සමගාමී කටයුතුවල දී පන්ති නායක, ශිෂ්‍ය නායක හා විවිධ සමිති සමාගම්වල සභාපති, ලේකම් වැනි තනතුරු දැරීමේ අවස්ථා ඔස්සේ ලැබෙන සමාජානුයෝජනය,
(1) චරිතායනයකි. (2) භූමිකා නිරූපණයකි. (3) ස්වීකරණයකි.
(4) තදාත්මීකරණයකි. (5) අනුකරණයකි.

**29.** පහත දැක්වෙන චර්යා අතුරෙන් අන්තර්වර්ති සන්නිවේදන නිපුණතාවක් **නො වන්නේ** කුමක් ද?
(1) පරිකල්පනය (2) දවල් සිහින දැකීම
(3) ආවර්ජනය (4) සිංහාවලෝකනය
(5) සටහන් තබා ගැනීම

**30.** වර්ධනය වූ ගැටුමක් තිරසාර ලෙස විසඳා ගැනීමට වඩාත් සුදුසු ගැටුම් කළමනාකරණ ශෛලිය වන්නේ,
(1) සහයෝගීව ක්‍රියා කිරීමයි. (2) තරග වැදීමයි. (3) මඟ හැරීමයි.
(4) ඉඩ හැරීමයි. (5) සම්මුතික එකඟතාවයි.

**31.** ජනමාධ්‍ය ග්‍රාහකත්වය තුළ දක්නට ලැබෙන ලක්ෂණයක් වන්නේ ග්‍රාහකයා,
(1) සන්දේශයෙන් පමණක් බැඳී සිටීමයි.
(2) එකම අරමුණක් වෙනුවෙන් එක් වූ පිරිසක් වීමයි.
(3) මනා ලෙස සංවිධානගත වී සිටීමයි.
(4) සන්නිවේදකයා සමඟ සමීප සබඳතාවක් පැවතීමයි.
(5) පැහැදිලිව ගණනය කළ හැකි වීමයි.

**32.** රූපවාහිනියෙන් විකාශය වන රාත්‍රී ප්‍රවෘත්ති නැරඹීමට සූදානම් වූ විශ්වට, රූපවාහිනියේ අපැහැදිලි රූප නිසා රටෙහි උද්ගතව පැවති ගංවතුර පිළිබඳ නිසි අවබෝධයක් ලබාගත නොහැකි විය. මෙය සන්නිවේදන න්‍යායාත්මකව හඳුන්වන්නේ,
(1) රූපවාහිනියෙහි කාර්මික දෝෂයක් ලෙසට ය.
(2) අවට පරිසරයේ ගැටලුවක් ලෙසට ය.
(3) මාධ්‍ය බාධාවක් ලෙසට ය.
(4) ඇන්ටනාවෙහි දෝෂයක් ලෙසට ය.
(5) පුද්ගල විභින්නතා න්‍යාය ලෙසට ය.

**33.** ළමා චිත්‍රපටයක මූලික ලක්ෂණය විය යුත්තේ,
(1) ළමා ලෝකය නිරූපණය කිරීමයි. (2) දක්ෂ ළමයින් වැඩි වශයෙන් යොදා ගැනීමයි.
(3) සරල කතා වස්තුවක් තිබීමයි. (4) ප්‍රවීණ නළු නිළියන් යොදා ගැනීමයි.
(5) උපරිම විනෝදාස්වාදයක් ලබා දීමයි.

**34.** සාම්ප්‍රදායික මාධ්‍යවල ඇති වැදගත්කම පිළිබඳ පන්ති කාමරයේ දී ඇති වූ සංවාදයක ප්‍රකාශ කිහිපයක් පහත දැක් වේ.
- නයනි - ඒවා ගැන පොදු ජනතාව තුළ විශ්වාසයක් තියෙනවා.
- ජයනි - එහි දී භාවිත වන සංඥා, සංකේත හුරුපුරුදුයි.
- විපුලි - ඒවායින් ඉදිරිපත් වන්නේ ප්‍රභූන්ගේ අදහස් නො වේ.
- රුවනි - ඒ වුණාට සක්‍රිය ග්‍රාහක සහභාගිත්වයක් නැහැ.

ඉහත ප්‍රකාශවලින් නිවැරදි අදහස් ඉදිරිපත් කරන්නේ
(1) නයනි හා රුවනි ය. (2) නයනි හා ජයනි ය.
(3) නයනි, ජයනි හා රුවනි ය. (4) නයනි, ජයනි හා විපුලි ය.
(5) නයනි, ජයනි, විපුලි හා රුවනි යන සියලු දෙනා ම ය.

● අංක **35** සිට **38** තෙක් ප්‍රශ්නවලට පහත දැක්වෙන ආකෘතිය ඇසුරෙන් පිළිතුරු සපයන්න.




**35.** ඉහත සඳහන් රටාවට සමාන ආකෘතියක් ඉදිරිපත් කරන ලද්දේ,
(1) විල්බර් ශ්‍රාම් විසිනි. (2) ඩේවිඩ් කේ. බර්ලෝ විසිනි.
(3) ෂැනොන් හා වීවර් විසිනි. (4) චාල්ස් ඔස්ගුඩ් විසිනි.
(5) හැරල්ඩ් ඩී. ලැස්වෙල් විසිනි.

**36.** ඉහත ආකෘතියෙන් ඉදිරිපත් වන කරුණු අනුව පැහැදිලි වන්නේ එය,
(1) චක්‍රාකාර ආකෘතියක් බව ය. (2) ක්‍රියාපද්ධති ආකෘතියක් බව ය.
(3) ද්වි මාර්ගික ආකෘතියක් බව ය. (4) ඒක මාර්ගික ආකෘතියක් බව ය.
(5) ව්‍යුහාත්මක ආකෘතියක් බව ය.

**37.** ඉහත ආකෘතියෙහි '**G**' අසාර්ථකත්වයට පත්වන්නේ,
(1) A හි බලපෑමෙනි. (2) C හි බලපෑමෙනි. (3) E හි බලපෑමෙනි. (4) F හි බලපෑමෙනි. (5) I හි බලපෑමෙනි.

**38.** ඉහත සඳහන් ආකෘතියට අනුව '**H**' සඳහා වඩාත් යෝග්‍ය වන්නේ,
(1) සන්නිවේදකයා ය. (2) පණිවිඩය ය. (3) ග්‍රාහකයා ය.
(4) නාලිකාව ය. (5) අග්‍රස්ථානය ය.

**39.** මාධ්‍යයක ප්‍රධාන ම හා මූලික ම අරමුණ වන්නේ,
(1) සියලු සිදුවීම් ග්‍රාහකයන් වෙත වාර්තා කිරීම ය.
(2) පාලක පන්තියේ දෘෂ්ටිවාදය ප්‍රචාරය කිරීම ය.
(3) සමාජ අවශ්‍යතා විෂයමූලික තොරතුරු මගින් සංතෘප්ත කිරීම ය.
(4) සමාජ විඥානය තුළ පුරවැසි සමාජ වටිනාකම් තහවුරු කිරීම ය.
(5) කාලීන ප්‍රශ්න නිරාකරණය සඳහා ග්‍රාහකයින් සන්නද්ධ කිරීම ය.

**40.** පළමුවරට හමුවන පුද්ගලයන් දෙදෙනකු අතර සාමාන්‍යයෙන් සිදු වන සන්නිවේදනයේ දී දැක ගත හැකි අවස්ථා කිහිපයක් පහත දැක්වේ.
A - පොදු විස්තර කථා කිරීම
B - විවෘත හා ගැඹුරු විශ්වසනීයත්වයකින් යුත් අදහස් හුවමාරුව
C - එකිනෙකා සිනහවීම හා හිස වැනීම
D - පෞද්ගලික තොරතුරු හුවමාරු කර ගැනීම
එම සන්නිවේදන ක්‍රියාවලියෙහි අවස්ථා ආරම්භයේ සිට අනුපිළිවෙළින්,
(1) A, C, D හා B වේ. (2) B, C, D හා A වේ. (3) C, A, D හා B වේ.
(4) C, D, B හා A වේ. (5) D, B, A හා C වේ.

**41.** මාධ්‍ය විචාරයේ විවිධ ප්‍රවේශ තුළ දී සලකනු ලබන කරුණු කිහිපයක් පහත දැක්වේ.
A - සිදුවීම නව මානයකින් බැලීම
B - ග්‍රාහක විඥානය පෝෂණය කිරීම
C - විශ්‍රාන්තික ලක්ෂණ විමර්ශනය කිරීම
D - අභිප්‍රේරණයක් ඇති කිරීම
මේවායින් ඓතිහාසික ප්‍රවේශය සමඟ වඩාත් ගැළපෙන්නේ,
(1) A, B හා C පමණි. (2) A, B හා D පමණි.
(3) A, C හා D පමණි. (4) B, C හා D පමණි.
(5) A, B, C හා D යන සියල්ල ම ය.

**42.** සන්නිවේදන උපකරණයක් ලෙස ගැමි මාධ්‍ය යොදා ගැනීමේ ප්‍රවණතාවක් **නො වන්නේ**,
(1) නම්‍යශීලීභාවයයි. (2) අවම පිරිවැයයි.
(3) ජන විඥානයට සමීප වීමයි. (4) පුළුල් ව්‍යාප්තියයි.
(5) ප්‍රතිපෝෂණ හැකියාවයි.

**43.** ගැටලුවක දී මැදිහත්කරුගේ භූමිකාවක් වන්නේ,
(1) වෙන් වෙන් ව සාකච්ඡා කිරීමයි. (2) පක්ෂපාතීව කටයුතු කිරීමයි.
(3) දුක්ගැනවිලිවලට සවන් නොදීමයි. (4) ගැටුමට සෘජුව ම සම්බන්ධ වීමයි.
(5) මත ගැටීමට අවස්ථාව ලබා නොදීමයි.

**44.** සංවර්ධන සන්නිවේදන ව්‍යාපෘති වාර්තාවක්, ඉදිරි ව්‍යාපෘති සඳහා වැදගත් වන්නේ,
(1) එහි ඉලක්ක සහ අරමුණු පිළිබඳ විස්තර ඇතුළත් වන බැවිනි.
(2) අනුග්‍රාහකත්වය සපයාගත් ආකාරය සඳහන් වන බැවිනි.
(3) මතු වූ ගැටලු සහ අතපසුවීම් ඇතුළත් වන බැවිනි.
(4) ව්‍යාපෘති කණ්ඩායම පිළිබඳ විස්තර පවතින බැවිනි.
(5) එය මුද්‍රිතව පොතක් ලෙස සකස් කර ඉදිරිපත් කරන බැවිනි.

**45.** දේශපාලන බලය පිළිබඳ උනන්දු වන බොහෝ පුද්ගලයන් ප්‍රධාන ආගමික ස්ථාන පිළිබඳ අනුග්‍රාහකශීලී වීමට බලපාන මූලික හේතුව ලෙස හඳුනාගත හැකි වන්නේ,
(1) ආගමික අනුශාසනා රාජ්‍ය පාලනය සඳහා අවශ්‍ය බව පිළිගැනීමයි.
(2) අදෘශ්‍යමාන බලවේගවල බලපෑම දේශපාලන බලය කෙරෙහි බලපාන බවට ඇති විශ්වාසයයි.
(3) ආධ්‍යාත්මික නායකත්වය බල ව්‍යුහයේ එක් ප්‍රධාන අංගයක් වීමයි.
(4) තම ආධ්‍යාත්මික නැඹුරුව ප්‍රදර්ශනය ජනතාව ආකර්ෂණය කර ගැනීමේ උපාය මාර්ගයක් ලෙස කල්පනා කිරීමයි.
(5) පූජනීය සම්පත් හා ආගමික නායකත්වය බල කේන්ද්‍රීය සාධකයක් ලෙස ක්‍රියාත්මක වීමයි.

**46.** අලුත උපන් දරුවන්ට එන්නත් ලබාදීමේ දින පිළිබඳ ව සැලැස්මක් සෞඛ්‍ය නිලධාරියා විසින් සකස් කරන ලදී. එම දින අදාළ මව්වරුන් වෙත දැනුම් දීමට වඩාත් යෝග්‍ය සන්නිවේදන ක්‍රමය විය හැක්කේ කුමක් ද?
(1) රූපවාහිනිය
(2) පුවත්පත්
(3) විද්‍යුත් තැපැල
(4) කෙටි පණිවුඩ (SMS)
(5) මහජන ඇමතුම් පද්ධති

**47.** ඔබ මහජන සම්බන්ධතා නිලධාරියකු යැයි සිතන්න. ඔබගේ සේවය අවශ්‍ය වන අවස්ථා කිහිපයක් පහත දැක්වේ.
- රජය මගින් අලුතින් ආරම්භ කිරීමට යෝජිත නව ව්‍යාපෘතියක් පිළිබඳ මහජනතාවට විස්තරාත්මකව පැහැදිලි කිරීම
- වසර තුනකින් පසු පැවැත්වීමට නියමිත පළාත් සභා ඡන්දය සඳහා ඉදිරිපත් වීමට උනන්දුවෙන් පසු වන තරුණ සමාජ ක්‍රියාකාරිකයකු හඳුන්වා දීම
- විදුලි රැහැනක අලුත්වැඩියාවක් සඳහා විදුලි සැපයුම සති අන්තයේ දී අත්හිටුවීම පිළිබඳ ජනතාව දැනුම්වත් කිරීම

ඉහත අවස්ථාවලට ගැළපෙන ක්‍රියාකාරකම්වල අනුපිළිවෙළ වන්නේ,
(1) මාධ්‍ය නිවේදනය, මාධ්‍ය සාකච්ඡාව සහ ප්‍රතිරූපය ගොඩනැගීම ය.
(2) මාධ්‍ය සාකච්ඡාව, මාධ්‍ය නිවේදනය සහ ප්‍රතිරූපය ගොඩනැගීම ය.
(3) මාධ්‍ය සාකච්ඡාව, ප්‍රතිරූපය ගොඩනැගීම සහ මාධ්‍ය නිවේදනය ය.
(4) මාධ්‍ය නිවේදනය, ප්‍රතිරූපය ගොඩනැගීම සහ මාධ්‍ය සාකච්ඡාව ය.
(5) ප්‍රතිරූපය ගොඩනැගීම, මාධ්‍ය සාකච්ඡාව සහ මාධ්‍ය නිවේදනය ය.

**48.** ප්‍රාථමික පන්ති කාමරයක ගණිත ගුරුතුමිය මූලික ගණිත සංකල්ප වටහා දීම සඳහා ගණක රාමුව ඉගෙනුම් ආධාරකයක් ලෙස යොදා ගන්නේ සිසුන්ගේ,
(1) සංකල්ප සාධනය කර ගැනීමේ හැකියාව පුළුල් කර ගැනීමට ය.
(2) පරිකල්පන හැකියාව දියුණු කිරීමට ය.
(3) වියුක්ත සංකල්ප සංජානනය කර ගැනීමේ බාධා ඉවත් කිරීමට ය.
(4) ඉගෙනුම් ක්‍රියාවලියේ ප්‍රවර්ධකයක් ලෙස ය.
(5) සංකල්ප ධාරණය කර ගැනීම පහසු කිරීමට ය.

**49.** නව මාධ්‍ය අපගේ ගෘහ ජීවිතය ආක්‍රමණය කර ඇති බව එක්තරා දේශකයෙක් අවධාරණය කර සිටියේ ය. එමගින් ඔහු අදහස් කරන්නේ,
(1) නව මාධ්‍ය භාවිතය ප්‍රචණ්ඩත්වය වර්ධනය වීමට හේතු වී ඇති බවයි.
(2) නව මාධ්‍ය භාවිතයේ පිරිවැය අවම වී ඇති බවයි.
(3) නව මාධ්‍ය සාක්ෂරතාව ඉහළ බැවින් මෙවැන්නක් සිදු වන බවයි.
(4) නව මාධ්‍ය තාක්ෂණයේ ප්‍රබලත්වය ශීඝ්‍රයෙන් ඉහළ යන බවයි.
(5) නව මාධ්‍ය භාවිතය ඉහළ යාම මගින් පුද්ගලයා හුදෙකලා වී ඇති බවයි.

**50.** මාධ්‍ය අරමුණු සහ කර්තව්‍ය නිර්ණය කිරීමෙහි ලා මාධ්‍ය න්‍යාය සහ ව්‍යවහාරය තුළ ප්‍රකට ප්‍රවේශ දෙක වන්නේ,
(1) ප්‍රජාමූල සහ ව්‍යවසායමූල ප්‍රවේශයයි.
(2) විඥාපන සහ බලපෑම් ප්‍රවේශයයි.
(3) සමාජීය සහ පුද්ගලික ප්‍රවේශයයි.
(4) විනෝදාස්වාදී සහ ප්‍රවෘත්තිමය ප්‍රවේශයයි.
(5) වාණිජවාදී සහ මහජන සේවා ප්‍රවේශයයි.

***

27842

AL/2016/29/S-II





අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2016 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2016 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2016

| | | |
|---|---|---|
| **සන්නිවේදනය හා මාධ්‍ය අධ්‍යයනය II**<br>தொடர்பாடலும் ஊடகக் கற்கையும் II<br>Communication & Media Studies II | 29 S II | *පැය තුනයි*<br>*மூன்று மணித்தியாலம்*<br>*Three hours* |

**උපදෙස්:**

✻ ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න. එක් ප්‍රශ්නයකට හිමි ලකුණු සංඛ්‍යාව **20**කි.

**1.** පාසල් සාහිත්‍ය සමිතියේ අනුශාසනාව පැවැත්වූ ගුරුතුමා පවසා සිටියේ කථන හැකියාව ජීවිතයේ බොහෝ අංශ ප්‍රභාවත් කිරීමට දායක වන බවයි.

(i) ඵලදායී කථිකයකුගේ ගුණාංග **හතරක්** නම් කරන්න.

(ii) රූපණය පදනම් කරගත් ජනශ්‍රැතිකාංග **හතරක්** නම් කර, ඉන් **එකක්** පිළිබඳ ව කෙටියෙන් විස්තර කරන්න.

(iii) ශ්‍රවණ හැකියාව දුර්වල වීමට බලපාන සාධක **හතරක්** නම් කර, ඉන් **දෙකක්** විස්තර කරන්න.

(iv) අවිධිමත් සන්නිවේදනයේ ලක්ෂණ **හතරක්** උදාහරණ සහිත ව විස්තර කරන්න.

**2.** (i) විල්බර් ශ්‍රාම්ගේ සන්නිවේදනය පිළිබඳ නිර්වචනය සඳහන් කරන්න.

(ii) (අ) සමාජානුයෝජනය සඳහා බලපාන ආයතන **හතරක්** නම් කරන්න.

(ආ) දරුවන්ගේ සමාජානුයෝජනයට රූපවාහිනී මාධ්‍යය බලපාන ආකාරය කෙටියෙන් විස්තර කරන්න.

(iii) ආයතනයක මහජන සම්බන්ධතා පවත්වා ගැනීම සඳහා භාවිත කළ හැකි නවමාධ්‍ය ක්‍රම **තුනක්** උදාහරණ ඇසුරින් පැහැදිලි කරන්න.

(iv) ගෝලීයකරණ සංකල්පයට අයත් කරුණු **හතරක්** පදනම් කර ගනිමින් පුවත්පතක පළකිරීම සඳහා වචන **250කට නොඅඩු** ලිපියක් ලියන්න.

**3.** සමහර රටවල පොත් මුද්‍රණයට පෙර එහි අත්පිටපතට රාජ්‍ය බලධරයාගේ අනුමැතිය ලබාගත යුතු ය.

(i) ඉහත තත්ත්වය අදාළ වන සන්නිවේදන සංකල්ප **දෙකක්** නම් කරන්න.

(ii) ජනමාධ්‍යවල දොරටුපාලකවරුන්ගේ ක්‍රියාකාරිත්වය හේතුවෙන් සන්දේශවල සිදු වන වෙනස්කම් **දෙකක්** පැහැදිලි කරන්න.

(iii) වර්තමාන ජනමාධ්‍ය සිය ග්‍රාහකයින් පොලඹවාලීම සඳහා යොදා ගන්නා උපක්‍රම **හතරක්** නම් කොට, ඉන් **දෙකක්** නිදසුන් සහිතව පහදන්න.

(iv) ප්‍රධාන සන්නිවේදන බාධක වර්ග **දෙක**, පුවත්පත් මාධ්‍යයෙහි දක්නට ලැබෙන ආකාරය උදාහරණ **දෙක** බැගින් ගෙන විස්තර කරන්න.

**4.** වර්තමාන සමාජය තුළ විවිධාකාර ගැටුම් බහුල ව දක්නට ලැබේ. ගැටුම්, මානව සමාජයෙහි පැවැත්මේ ස්වභාවය බවත්, ගැටුම්වලින් තොර ව මානව සමාජයක් පැවැතිය නොහැකි බවත් බොහෝ පර්යේෂකයින්ගේ අදහස වේ.

(i) යොහාන් ගැල්ටුන්ගේ (Johan Gultung) ගැටුම් පිළිබඳ ආකෘතිය ඇඳ, නම් කරන්න.

(ii) 'විශාදය' (Depression) යන්න කෙටියෙන් හඳුන්වා, ඒ හා සම්බන්ධ අන්තර්වර්ති පුද්ගල සන්නිවේදන ලක්ෂණ **හතරක්** නම් කරන්න.

(iii) ක්ලමථයෙන් (Stress) අත්මිදීම සඳහා යොදා ගත හැකි සන්නිවේදන භාවිත **හයක්** නම් කර, ඉන් **එකක්** විස්තර කරන්න.

(iv) මාධ්‍ය ප්‍රචණ්ඩත්වයට හසු නොවී සිටීම සඳහා ග්‍රාහකයා සතුවිය යුතු නිපුණතා **හතරක්** විස්තර කරන්න.

[දෙවැනි පිටුව බලන්න.

5. (i) රූපවාහිනී වෙළඳ දැන්වීම් මගින් පාරිභෝගිකයාට ලැබෙන යහපත් ප්‍රතිඵල **හතරක්** නම් කරන්න.

(ii) විවාහ මංගල උත්සවයක දී දක්නට ලැබෙන නිර්වාචික සන්නිවේදන ක්‍රම **හයක්** දක්වා, ඉන් **එකක්** පිළිබඳ කෙටියෙන් විස්තර කරන්න.

(iii) නවමාධ්‍ය තුළ භාවිත වන භාෂාව නිසා සම්මත භාෂා මුහුණ දෙන අභියෝග **හතරක්** සඳහන් කර, ඉන් **දෙකක්** පිළිබඳව පැහැදිලි කරන්න.

(iv) සන්දේශයක් නිර්මාණාත්මක ව ඉදිරිපත් කිරීමේ ක්‍රමෝපාය නිගමනය කිරීමේ දී සැලකිල්ලට ගත යුතු සාධක **හතරක්** දක්වා, ඉන් **දෙකක්** නිදසුන් සහිත ව පහදන්න.

6. (i) ගෘහස්ථ සංස්කෘතිය කෙරෙහි විද්‍යුත් මාධ්‍ය අයහපත් ලෙස බලපාන ආකාරය පිළිබඳ කරුණු **හතරක්** දක්වන්න.

(ii) මාධ්‍ය අධ්‍යාපනයෙහි ඇති වැදගත්කම පිළිබඳ කරුණු **හයක්** දක්වා, ඉන් **එකක්** ගැන කෙටියෙන් විස්තර කරන්න.

(iii) මාධ්‍ය වෙළෙඳපොළෙහි ක්‍රියාකාරිත්වය කරුණු **තුනක්** ඇසුරින් පහදන්න.

(iv) සිනමා මාධ්‍යය අනෙක් ජනමාධ්‍යවලින් වෙනස් වන විශේෂතා **හතරක්** පදනම් කර ගනිමින් රචනයක් ලියන්න.

7. ජනමාධ්‍යකරුවන්ගේ සම්මාන ප්‍රදානෝත්සවයක දී ඇති වූ මතභේදාත්මක කරුණක් මත දෙපිරිසක් අතර උණුසුම් වචන හුවමාරුවක් සිදු විය. මෙබඳු අවස්ථාවක ආචාරශීලී විය යුතු බව බොහෝ දෙනෙක් ප්‍රකාශ කළහ.

(i) අසම්මත භාෂාවක පවතින ලක්ෂණ **හතරක්** නම් කරන්න.

(ii) මාධ්‍ය සංස්කෘතිය නිසා සිදු වන සමාජ වෙනස්වීම් **හයක්** දක්වා, ඉන් **එකක්** පිළිබඳ කෙටියෙන් විස්තර කරන්න.

(iii) සන්නිවේදනයේ දී ආචාරශීලීත්වය වැදගත් වන ආකාරය සාධක **තුනක්** ඇසුරින් පහදන්න.

(iv) මාධ්‍ය විචාරකයා සතු ලක්ෂණ **හතරක්** නම් කොට, ඉන් **දෙකක්** සවිස්තරාත්මක ව පහදන්න.

***